# බුදු දහමේ නොමග මඟ

By: Shelton Ranasinghe

**කතෘ: ෂෙල්ටන් රණසිංහ**

**~~~**

**අන්තර්ගතය:**

# බුදු දහමේ නොමග මඟ

~~~

## හැඳින්වීම

සෑම ආගමක්ම පාහේ ඔබේ අවධානය දිනා ගැනීම සඳහා නිරූපණය කරන්නේ මනාව ගොතන ලද කථාවකි. මූලික වශයෙන්, මෙම “කථාවෙන්” ඔබට පවසන්නේ ඔබේ ජීවිතයට සම්බන්ධ නිධන්ගත ගැටලු කිහිපයක් තිබෙන බවත්, ඒවා ඔබේ මරණින් මතු ජීවිතයට බෙහිවින්ම බලපාන බැවින් එම ගැටලු නොපමාවම විසඳා ගත යුතු බවත්ය.

මෙම ගැටලු ඔබේ අධ්‍යාත්මයට හඳුන්වා දෙන ආගම, ඔබ දැන් ගෙවන ජීවිතයත් මරණින් මතු ජීවිතයත් යහපත් කල හැකිය යන අරමුණ මත, සුදුසු මඟ පෙන්වීම් ද සපයයි. හින්දු, බෞද්ධ, ජයින සහ සීක් වැනි ආගම් ඔබට ඇති ගැටලුවට සරිලන ස්ථිර විසඳුම ලෙස, ඔබ හසු වී ඇති ඉපදීම සහ මරණ සංසාර චක්‍රයෙන් විමුක්තිය ලබා ගැනීමට අවශ්‍ය බව පෙන්නුම් කරයි. ඔබ, ඔබට ආවේනිකව වර්ධනය කර ගෙන ඇති දැඩි ආගමික භක්තිය නිසා, මෙම විසඳුම් වලට ගරු බුහුමන් කරමින්, තම ආගම හඳුන්වාදුන් ගැටලු සිතට සමීපව තබා ගෙන, ජීවිතය ගෙන යයි. අවාසනාවකට මෙන්, සමහරුන්, ඔවුන්ට කියා දී ඇති කථාව කෙරෙහි ඇති දැඩි විශ්වාසයෙහි ප්‍රතිඵලයක් ලෙස, ආගමට වහලුන් බවට පත්වේ. මෙවැන්නන් සමහර අවස්ථාවල දී තමන් විශ්වාස කරන දැයට බැහැර වෙනස් ආගමික දැය විශ්වාස කරන අයට එරෙහිව හැඟීම්බරව බොළඳ ලෙස සතුරුකම් කරන්නේ අපි සියල්ලන් සහෝදර මනුෂ්‍යයන් යන කරුණ අමතක කරමින් ය.

ඇත්තටම ප්‍රඥාගෝචර විය යුත්තේ ආගම ඔබට ඇති කළ ගැටලු කුමක් ද යන්න ගැඹුරු ලෙස තේරුම් කර ගැනීම සහ ඔබ ආගමට ආවේණික සංකල්පිත කරුණු විශ්වාස කිරීමට හේතු වූයේ ඇයි දැයි සොයා බැලීමයි.
~~~

මෙය පුළුල් හා ගැඹුරු අර්ථයකින් තේරුම් ගත හොත් ආගම ඔබට හඳුන්වා දුන් ගැටලුවලින් තොර සමතුලිත ජීවිතයක් ආපසු ලබාගැනීමට එම අවබෝධයම ප්‍රමාණවත් වනවා ඇත. එම අවබෝධය ඔබට ලැබිය හැක්කේ, ඔබ සහ ඔබේ මනස අතර කල හැකි තාර්කික සංවාදයකිනි. බුදු දහම ඉහත සඳහන් රීතියට සම්පුර්ණයෙන්ම ව්‍යතිරේකයක් නොවන නිසා අප ඒ ගැන විවෘත මනසකින් සොයා බැලීම වැදගත් වේ.

ආගමික කරුණු ඉදිරිපත් කරන පදනම් කථා වල මූලික අරමුණ වන්නේ අනුගාමිකයින්ගේ මානසික අවධානය ග්‍රහණය කර ගැනීමයි. කතන්දර ලෙහෙසියෙන් මතක තබා ගැනීමට හැකි නිසා ආගමික නායකයින් තම මතවාද ප්‍රචාරණය කිරීම සඳහා මෙම මාධ්‍යය කාර්යක්ෂම මෙවලමක් ලෙස භාවිතා කර ඇත. ආගම්වලට ආවේණික පදනම් කථා හුදෙක් මනඃකල්පිත වන බැවින්, අනුගාමිකයින්ට ද ඔවුන්ගේ මනසට යෝග්‍ය වෙන පරිදි ඒවා සංස්කරණය කර ගැනීමට හැකි වෙයි. කෙසේ වෙතත්, අප දඩයම් කරුවන් ලෙස ජීවත් වූ ප්‍රාථමික යුගයේ සිට අද දක්වාත් අපගේ දුර්වල මනස් සැනසීමට මිථ්‍යා විශ්වාස පලමුවත් ආගමික විශ්වාස පසු කාලයක දීත් ආධාර වීම නිසා, නොයෙකුත් විශ්වාසයන් අනුගමනය කිරීම මිනිස් වර්ගයාට විශාල උපකාරයක් වූ බව අප අමතක නොකටයුතුයි. කෙසේ වෙතත් මෙම ආකාරයෙන් ලබාගත් උපකාර හුදෙක් මානසික සහන වන අතර, ඒවා ප්ලේසෙබෝ ගනයට උපමා කල හැකියි.

සියලු ආකාරයේ අද්භූත විශ්වාසයන් වඩා ප්‍රයෝජනවත් වූයේ ප්‍රාථමික මිනිසාට වූ නමුත් බොහෝ නූතන අයද තවමත් තම විශ්වාස තුලින් පිහිට පතයි. මෙයට හේතුව වශයෙන් අපගේ නූතන මොළවල තවමත් ප්‍රාථමික මිනිස් මොළයෙන් උරුම වූ පරිණාමීය ලක්ෂණ තිබීම යැයි කිව හැකිය. ජීවිතයේ දුෂ්කර අවස්ථාවන්ට මුහුණ දීම සඳහා ප්‍රාථමික මිනිසා, මිථ්‍යා මතික අද්භූත සහ අදෘශ්‍යමාන බලවේගයන්ගෙන් උපකාර ලබා ගැනීමට පෙලඹුණේ ය. අපට උරුමයෙන් ලැබී ඇති මෙවැනි ගති ලක්ෂණ තවමත්

අපට නොදැනුවත්වම නොයෙකුත් විශ්වාසයන් කෙරෙහි අපව නැඹුරු කිරීමට බලපෑම් කරනවා වෙන්නට පුළුවන.

ක්‍රි.පූ. 550 දී පමණ ගෞතම බුදුන් වහන්සේ ලොව පහළ වීමෙන් පසු ආරම්භ වූ බෞද්ධ පිළිපැදීම් ලෝකය පුරා නොයෙකුත් මාදිලි අනුකරණය කරයි. මෙම පිළිපැදීම් ප්‍රධාන වශයෙන් ප්‍රවාහ දෙකක් ඔස්සේ සිදු වන බව සංක්ෂිප්තව කිව හැකියි. එයින් එක ප්‍රවාහයක් වන්නේ බුදුන් වහන්සේගේ සොයා ගත් මූලික ධර්ම සංඝටක පමණක් ආශ්‍රිත දාර්ශනික ස්භාවයක් අනුක්‍රමණය කරන පිළිපැදීමක් වන අතර අනික වන්නේ ලොව පවතින අනිකුත් ආගම් වලට සමාන අනුක්‍රමයකට බෞද්ධ ධර්මය හැඩ ගැසුණු පිළිපැදීමක් වේ. අපි මෙම ප්‍රවාහයන් දෙකොටසම පසුව සවිස්තරව විමර්ශනය කරමු.

## බුදුරදුන් සොයා ගත් මූලික ධර්ම සංකල්ප

සිදුහත් තවුසාගේ ගවේෂණ ක්ෂේත්‍රය ‘‘මනස’’ බව පැහැදිලි වන අතර, ඔහුගේ අරමුණ වූයේ දුක ඇතිවන හේතු සෙවීම සහ දුක නැති කිරීමට විසඳුමක් සෙවීම බව බෞද්ධ සාහිත්‍යයට අනුව පැහැදිලි වේ. බුදුන් වහන්සේ වසර හතකට වැඩි කාලයක් තම පර්යේෂණ මෙහෙවර අවසානයේ දී තමන් සෙවූ ධර්ම සාරය අත්පත් කර ගත්හ.

කෙසේ වෙතත්, බුදුන් වහන්සේ තමන් ඉතා දුෂ්කර ලෙස සොයා ගත් ධර්මය අන් අයට දේශනා කිරීමට මුලින් පසුබට වූ බව සඳහන්වේ. එයට හේතු වූයේ එම සංකීර්ණ ධර්මය සාමාන්‍ය අනුගාමිකයන්ට තේරුම් ගැනීමට නොහැකි වේ යන මතය නිසාය. තවදුරටත් සිතා බැලීමෙන් පසුව, බුදුරදුන් තම ධර්මය ඉගැන්වීමට තීරණය කළේ, අවම වශයෙන් නැණවතුන්ට එය අවබෝධ කර ගැනීමට හැකිය යන බවත්, සෙසු අයට තමන්ගේ ධර්ම මෙහෙවරෙන්

ප්‍රයෝජන ගැනීමට හැකිය යන බවට උපකල්පනය කල නිසා යැයි ත්‍රිපිටකයේ සඳහන් වුවත් මෙයට වඩා තව කරුණු මෙම පසුබෑමට හේතු වන්නට ඇතැයි ඒ ගැන සලකා බැලීමෙන් පැහැදිලි වේ.

බුදුරදුන් සොයා ගත් ධර්මය පලමුව දේශනා කළේ උන්වහන්සේ ගවේෂණය කල දෑ පිළිබඳව වැටහීමක් තිබූ සහ එම සංකීර්ණ ධර්මය අවබෝධ කර ගැනීමට මානසික බුද්ධියක් තිබූ පස්වග තවුසන්ට ය. එසේ දේශනා කළ ධර්ම සාරය, ධම්මචක්කප්පවත්තන සූත්‍රය සහ අනත්තලක්ඛන සූත්‍රය නම් වූ ප්‍රථම සූත්‍ර දෙකෙහි ඇතුළත් ය. මෙම දේශන යුගල, මෙකල, විද්‍යාඥයෙකු නව සොයා ගැනීමකින් පසු තම සොයා ගැනීම් වල වලංගුභාවය සහතික කිරීම සඳහා විනිශ්චය කළ හැකි බුද්ධිමතුන්ගේ මඩුල්ලකට එම සොයා ගැනීම් ඉදිරිපත් කිරීමක් හා සැසඳිය හැකිය. පස්වග තවුසන්, බුදුන් වහන්සේ සොයා ගත් ධර්මය විමර්ශන කිරීමෙන් පසු, බුදුන්ගේ සොයා ගැනීම් ගැන සම්පූර්ණ ඒත්තු ගැනීමක් සිදු වූවා පමණක් නොව, ඔවුන් බුදුන්ගේ පළමු ශ්‍රාවකයන් බවට පත්වීය. එයින් පසු බෞද්ධ ධර්මය ප්‍රචාරය කිරීමට ඔවුන් ස්වේච්ඡාවෙන් ඉදිරිපත් වූහ.

මෙම සූත්‍ර දෙකෙන් වදාළ මූලික ධර්ම කාණ්ඩ වූයේ චතුරාර්ය සත්‍ය, ආර්ය අෂ්ටාංගික මාර්ගය සහ අනත්ත සංකල්පය (එනම් ආත්මයක් නොමැති භාවය) ය. ආර්ය අෂ්ටාංගික මාර්ගය, දුක නිමා කිරීමේ ප්‍රධාන පිළියම විය. කෙසේ වෙතත්, බුදුරදුන් හෝ ආර්ය ශ්‍රාවකයෙකු ලෙඩ වීම, වයසට යෑම සහ මරණය වැනි දුක්ඛ ස්භාවයන්ගෙන් නිරෝධ වීමට හැකි වුවා දැයි විමසුව හොත් පිළිතුර වන්නේ එසේ ස්වාභාවික ව සිදු වන දේ වලින් නිරෝධ වීමට ඔවුන්ට නොහැකි වුන බවය. එබැවින්, බුදුන් වහන්සේ සොයා දුන් දුක නැති කිරීමේ පිළියම කුමක් ද යන බව අර්ථවත් ව තේරුම් ගැනීම සඳහා එය පුළුල් දෘෂ්ටිකෝණයකින් බැලිය යුතුය.

## දුකෙහි කේන්ද්‍රස්ථානය

අප ජීවිතයේ මිහිරි හෝ අමිහිරි හැඟීම් අත්විදින්නේ කෙසේ ද? හෝ කුමන ස්ථානයක ද? යන්න විශ්ලේෂණය කළහොත්, විශාල ප්‍රමාණයක දුක් සිදුවන්නේ අපගේ මනසෙහි බව පෙනී යයි. රෝගී බවට පත්වීම, වයසට යෑම සහ මරණය, මනුෂ්‍ය ශරීරය හා සම්බන්ධ වැළැක්විය නොහැකි දුඛ්‍ය ස්වභාවයන්ය. එබැවින් බුදුරදුන් දුක් නිරෝධය සඳහා සොයා ගත් ප්‍රතිකර්මය යෙදිය හැක්කේ සිතෙහි ඇතිවෙන දුක් සදහා පමණක් යැයි උපකල්පනය කිරීම තර්කානුකූලය. ධම්මපදයේ "මනෝපුබ්බංගම ධම්මා" යන පාලි වචනවලින් ආරම්භ වන පදයෙන් සඳහන් පරිදි සෑම දෙයකටම කේන්ද්‍රීය වන්නේ අපේ මනසය. මනසෙහි ඇතිවෙන දුක්වල නිදසුන් නම්, දුක්ඛිතභාවය, දොම්නස, අතෘප්තිය, අසහනය, අසතුට, කාංසාව, කලකිරීම, ආතතිය, අප්‍රසන්න පුද්ගලයන් ඇසුරු කිරීම, ප්‍රසන්න පුද්ගලයන්ගෙන් වෙන් වීම යන ආදී මනස ආශ්‍රිත දුක්ඛිත හැඟීම් සහ සිතුවිලි ය. මෙම නිදසුන් වලට විරුද්ධ අර්ථ දරන හැඟීම්, ප්‍රසන්න හැඟීම් වන අතර කිසිවකු ඒවා ගැන පැමිණිලි කරන්නේ නැත. ඔබ කනස්සල්ලට පත් කරන, අපාය, මරණින් මතු ජීවිත වැනි සමහර සංකල්ප, ආගම් මගින් හඳුන්වා දී ඇති සැනසුම් වලට වඩා මානසික දුක් ඇති කරන කරුණු ලෙස තර්ක කල හැකිය.

දුක් නිමා කිරීමේ බෞද්ධ පිළියම වන ආර්ය අෂ්ටාංගික මාර්ගයට අනුකූලව අප පුහුණු කලයුතු සංඝටක අටක් ඇත. එහි අන්තර්ගත වන "සම්මා වාචා" හෙවත් නිවැරදි (යහපත්) කතාව, දුක සමනය කිරීම සඳහා ඉමහත් සේ දායකවන හැටි විදහා දැක්වීමට හැකි කදිම නිදසුනක් ය. ඔබ යමෙකු සමග කතා කිරීමේ දී එය කල්පනාකාරී ව සිතාමතා කිරීම නිසා, එම ක්‍රියාවන් සමගිය උදෙසා නිසි අවස්ථා ඇති කිරීම, ප්‍රසන්න තත්වයන් ස්ථාපිත කිරීම සහ ඔබ පවසන වචන අර්ථවත් ලෙස පවත්වා ගැනීම යන උච්ච සම්පන්න දේ සිදුවීම් සහතික කරයි. මේ ගැන ගැඹුරු ලෙස සිතා බැලුව හොත් යහපත් ලෙස කතා කිරීම, අපේ ජීවිතයේ දුක ඇති කරන හේතු විශාල තොගයක් පහසුවෙන්

ම වළක්වා ලන පිළිවෙතක් බව ඔබට තේරුම් යයි. මෙලෙස ම, ප්‍රඥාව දියුණු කිරීම උදෙසා ඇති සංඝටක වන "සම්මා දිට්ඨි" සහ "සම්මා සමාධි" පිළිබඳ කරන ගැඹුරු විශ්ලේෂණයන් හෙළිදරව් කරන්නේ, දුක ඇතිවීමට මූලික හේතුව අවිද්‍යාව බවයි. මේ ආකාරයට ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ඇති සියලුම සංඝටක දුක් නැති කිරීමට දායක වන හැටි පහසුවෙන් තේරුම් කරගත හැකිය. ආර්ය අෂ්ටාංගික මාර්ගය අනුගමනය කරන්නෙකුට මෙම අංග අට, සිතීමේ ක්‍රියාවලියට අනුයුක්ත කිරීමෙන් දුක් නොමැති සිතුවිලි ඇති කිරීමේ ප්‍රවණතාව ක්‍රමයෙන් වර්ධනය කල හැකිය.

## අනත්ත සංකල්පය සහ සිතුවිලි හට ගන්නා ක්‍රමවේදය

බුදුන් වහන්සේ සොයා ගත් ධර්මය අතරින්, අනත්ත සංකල්පය **අද්විතීය** බව ලොව සිටින සුප්‍රකට දාර්ශනිකයන් සහ විද්වතුන් බොහොමයක් පිළිගනී. මෙම සංකල්පය බෞද්ධ ධර්මයට අනන්‍ය වේ. ලෝකයේ ප්‍රධාන ආගම සියල්ලක් ම පාහේ මිනිසාට සබැඳි ආත්මයක් තිබෙන බව විශ්වාස කරන නමුත් බෞද්ධ ධර්ම අනත්ත සංකල්පය මගින් මෙම මතයට එකඟ නොවන්නේ ආත්මය යන අදහස මායාමය සිතුවිල්ලක් පමන බව සඳහන් කරමින් ය. එම නිසා, අනත්ත සංකල්පය, බුදුන් දවස අතිවිශාල පිරිසක් තරයේ විශ්වාස කළ හින්දු ආගමට කේන්ද්‍රීය වූ ආත්මවාදයට හුදෙක් ප්‍රතිවිරුද්ධ බව වටහා ගත යුතුය.

විද්වත් අයින්ස්ටයින්ගේ සාපේක්ෂතා න්‍යාය මෙන්, අනත්ත සංකල්පයද සංකීර්ණ වු බැවින් බොහෝ අයට එය තේරුම් ගැනීම, පහසු නොවේ. බුදුන් වහන්සේ තමන් සොයා ගත් දේ ඉගැන්වීමට මුලදී පසුබට වීමට, අනත්ත සංකල්පය එක් හේතුවක් වෙන්නට පුළුවන. අපට මෙම කරුණ පසුව සාකච්ඡා කල හැකි අතර අනත්ත සංකල්පය සහ අප තුල සිතුවිලි හට ගන්නා ක්‍රමවේදය කෙටියෙන් ඇගයීමට උත්සාහ කරමු.

මොළයේ ක්‍රියාකාරීත්වය නො දැන සිටි යුගයක, බුදුන් වහන්සේ මනසේ ක්‍රියාකාරීත්වය ගැඹුරින් සහ අතිශයින් ම පැහැදිලි ලෙස අවබෝධ කර තිබීම බෙහිවින්ම අද්විතීය කරුණක් බව සඳහන් කිරීම වැදගත් ය. අනත්ත සංකල්පය පැහැදිලි කිරීම සඳහා බුදුරදුන් ‘‘සාම්ප්‍රදායික සත්‍යය’’ සහ ‘‘පරම සත්‍යය’’ යනුවෙන් සත්‍ය කාණ්ඩ දෙකක් භාවිතා කළහ. තමන් හෝ මම යන වචන, සම්ප්‍රදායික සත්‍යයක් ලෙස සන්නිවේදනය සඳහා භාවිතා කිරීම යෝග්‍ය නමුත් ඇත්තවශයෙන්ම පරම සත්‍යයක් ලෙස පුද්ගලයෙකු මුල් කොට මම හෝ මගේ ආත්මය යන කිසිවක් නොමැති බවත්, මම හෝ මගේ ආත්මය යනු සිතීමෙන් හට ගන්නා සිතුවිලි නිසා නිර්මාණය වන මිත්‍යාහැඟීම් බවත් බුදුන් පැවසීය.

‘‘මම’’ යනු අපගේ සිතීමේ ක්‍රියාවලිය නිර්මාණය කරන මනඃකල්පිත චරිතයකි. මම යන හැඟීම පලමුව ඇති වන්නේ ඉතා බිළිඳු කල දී වන අතර එය එකල සිට අඛණ්ඩව වර්ධනය වෙමින් මතකයේ තැන්පත් වී ඇති, අපගේ සිතුවිලි වලට නොකඩවා සහභාගි වන චරිතයකි. අප දකින මිරිඟුවන්, අපේ ඇසට පෙනෙන රූප අවබෝධ කරගැනීම සඳහා මොළයේ නිර්මාණය වී ඇති සෛල ජාල ඔස්සේ සංපාදනය වන මුලාමය සිතුවිල්ලක්සේම, "මම" යන හැඟීම ද අපගේ පංචේන්ද්‍රිය සංඥා, මතක සංඥා සහ මොළයේ සිතීමේ ජාල ඔස්සේ නිර්මාණය වන මායාමය චින්තනයකි. මම යන හැඟීම අපගේ යටි සිතේ අඛණ්ඩව පවතින නිසා එය සැම දේකට ම කේන්ද්‍රීයව සහභාගි වන බවක අදහසක් අප තුල නිර්මාණය වේ.

සිතුවිලි උත්පාදනය වන්නේ, අප කුඩා කල සිටම වර්ධනය කර ගත් සහ අදටත් වර්ධනය වෙමින් පවතින මොලයේ ඇති කෝටි ගණනක සෛල පද්ධති වලින් සමන්විත සිතීම් ජාල ඔස්සේ ය. සිතීමේ ක්‍රියාවලියට වගකීම පැවරිය හැකි හෝ ප්‍රධාන වන විශේෂිත සෛල ජාලයක් හෝ ජාල සංයෝජනයක් නොමැත. මූලික වශයෙන් අපට ඇති සිතීම් පද්ධති වල ක්‍රියාකාරිත්වයට අණ දෙන්නෙකු ද නොමැත. සිතීම් නිපදවන මොළයේ

පද්ධති ජාල, අප ළදරු වියේ සිට ආරම්භ වී දැනටත් වර්ධනය වමින් පවතින අතර එම වර්ධනයන් නිරතුරුව එම ජාල යාවත්කාලීන කරයි. මොළයට යම් රෝගයක් හෝ අනතුරක් සිදුවූවහෝත් සිතීමේ පද්ධති වලට හානි පැමිණිය හැකි බැවින් එසේ වීම සිතීමේ ක්‍රියාවලියට දැඩි ලෙස බලපායි. මෙලෙස ම කෙනෙකු මත් ද්‍රව්‍ය පාවිච්චියට ගතහොත් එය ද සිතීමේ ක්‍රියාවලියට දැඩි ලෙස බලපෑම් කරයි.

"මම" යන හැඟීම පවතින්නේ අප අවදියෙන් සිටින විට සහ සිහින දකින විට පමණි. මෙයට හේතුව මෙම අවස්ථා දෙකේ දීම සිතීමේ ක්‍රියාවන් මොළයේ අඛණ්ඩව සිදු වන නිසාය. අප අවදිව සිටින විට, නව සිතුවිල්ලක් ජනනය කිරීමට තුඩු දෙන්නේ අපේ පංචේන්ද්‍රිය සපයන දත්ත සහ මතක අංශයෙන් ලැබෙන දත්ත වලිනි. මෙම, තොරතුරු සැපයීම් නොමැතිව සිතක් පහල නොවේ. මෙයට අමතරව, දැන් මොහොතකට පෙර ජනනය කරන ලද සිතුවිල්ල, සිතීමේ පද්ධතියට නැවත ඇතුල්වීමෙන්ද නව සිතුවිල්ලක් ඇති කල හැකිය. මෙසේ වීම අපගේ චින්තන පද්ධතියේ නිරන්තරයෙන් සිදුවේ.

අප නිදා සිටින විට අපගේ පංචේන්ද්‍රිය අක්‍රිය නිසා, එවන් සංඥාවන් මොළයට ඇතුළු නොවෙයි. නමුත් මොළය මගින් ම සමහර විට උත්තේජනය කරන මතක අංශය, සිතීමේ ක්‍රියාවලිය ආරම්භ කිරීම සඳහා දත්ත සපයයි. මෙහිදී ජනනය වන පලමු සිතුවිල්ලේ දත්ත, සිතීම් ක්‍රියාවලියට නැවත ඇතුළු වීමෙන් සිතීම් ක්‍රියාවලිය දිගින් දිගටම සිදුවේ. REM (rapid eye movement) නින්දේ දී අප ඉහත කී ආකාරයට ජනනය කරන සිතුවිලි මාලාවන්, අවදි වූ පසුව මතක තිබුණි නම් ඒවා සිහින ලෙස හඳුන්වයි. සිහින දකින විට මොළයේ සිතුවිලි ක්‍රියාවලිය සිදු වන නිසා මම යන හැගීම සිහින දකින විටත් පවතියි. නමුත් සිහින සිතුවිලි පංචේන්ද්‍රිය සංඥාවන් මගින් සපුරාලන තාත්වීකරන ක්‍රියාවලිය නොකරන බැවින් සිහින බොහෝ විට මනඃකල්පිත ස්වභාවයක් උසුලයි. අපට සිහිනෙන් පියැඹීමට හැක්කේ ඒ නිසයි.

එය එසේ නමුත්, අපි **සිහිසුන්ව** සිටින විට හෝ **ගැඹුරු නින්දේ** (REM නින්ද නොවේ) සිටින විට තත්වය මීට සම්පූර්ණයෙන්ම වෙනස් ය. මෙම අවස්ථා දෙකේ දී මතක අංශය ඇතුළුව, අපේ චින්තන ක්‍රියාවලිය, සම්පූර්ණයෙන්ම අක්‍රියයි. මෙහිදී අප කිසිදු සිතිවිල්ලක් ජනනය නොකරන බැවින්, මම හෝ ආත්මය හෝ චින්තකයෙකු යන හැඟීමක් ඇති කිරීමට මූලික වන මොළයේ කිසිදු ආකාරයක සිතුවිලි හෝ හැගීම් නොමැත. එම අවස්ථා දෙක යටතේ ආත්මයට හෝ මම යැයි හඳුන්වන තැනැත්තාට කුමක් සිදුවන්නේ ද? යන කරුණ කෙරෙහි ඔබ මොහොතක් කල්පනා කර බලන්න. ඇත්තටම, සිතිවිලි හෝ හැගීම් මෙහිදී මොළයේ සිදු නොවන නිසා ආත්මය හෝ මම යන හැඟීම් ඇති නොවේ. එබැවින්, මෙම සරල තර්කය මත "ආත්මය", "මම" යන හැඟීම ඇති වන්නේ මොළයේ සිතුවිලි ජනනය කරන විට පමණක් බව ඔප්පුවෙයි. සිහිමුර්ඡා වූ පුද්ගලයෙකු තුළ හෝ ගැඹුරු නින්දක සිටින පුද්ගලයෙකු තුල, එම තත්වයන් යටතේ පැහැදිලි වම ආත්මයක් හෝ මම හෝ තැනැත්තකු යැයි කිව හැකි කිසිම දෙයක් නොමැති බැවින්, එම පුද්ගලයා එම තත්වය යටතේ මිය ගිය හොත් මරණින් මතු ජීවිතයක් තිබිය හැකි ද නැද්ද යන ප්‍රශ්නයට මෙම උදාහරණය පැහැදිලි පිළිතුරක් ලබා දෙන බව ඔබට පෙනී යන්නේ යයි සිතමි.

මනස හෝ සිත නාම පදයක් ලෙස නිර්වචනය කිරීම අර්ථ විරහිත යැයි මා සිතමි. මන්ද යත්, සිත යනු අනුක්‍රමික ලෙස මොළයේ සිදු වන සිතීමේ ක්‍රියාවලියක් පමනක් නිසයි. බෞද්ධ ග්‍රන්ථ වල මෙම ක්‍රියාවලියේ අනුක්‍රමික අවස්ථා පාලි භාෂා වචන වලින් **උප්පාද** (උත්පත්තිය), **තිති** (සැකසීම) සහ **භංග** (නැති වීම) ලෙස පැහැදිලි කරයි. මේවා සිතුවිලි උත්පාදන ක්‍රියාවලියේ ත්‍රිවිධ අවධීන් වේ. මෙම ක්‍රියාවලියට අනුව සෑම සිතුවිල්ලක් ම ක්‍රමානුකූල ව ගොඩනැගීමෙන් පසු අවසානයේ දී නැති වී යයි. නමුත් සෑම සිතුවිල්ලක් ම මෙසේ අවසන් නොවේ. විශේෂයෙන්ම දුක් සහගත සිතුවිලි නැවතත් අපගේ චින්තන චක්‍රයට ඇතුළු වී දුක් හැගීම් නැවත නැවතත් පුනරාවර්තනය කරයි.

## සිත් හටගන්නා ක්‍රමවේදය




එසේම, යම් සිදුවීමක සංවේදීතාව අනුව දුකට හේතු වූ තොරතුරු මතකයේ ගබඩා වීමට ද හැකිය. එබැවින් සුබ (ප්‍රසන්න) හෝ දුක්බ හැඟීම් (උදා: සමීප ඥාතියෙකුගේ මරණයක් නිසා ඇති වන දුක), සුබ හෝ දුක්බ බීජයන් ලෙස අපගේ මොළයෙහි දිගු කලක් තැන්පත් වීමට හැක. ඒ ඕනෑම බීජයක් අපේ මතකයෙන් සිතීමේ ක්‍රියාවලියට ආ සැණින් ඒ හා බැඳුණු සුබ හෝ දුක්බ හැඟීම් ද ශනිකව ඇති වී යයි. මෙලෙසම එම බීජයක් මතකයෙන් ඉවත් වූ විගස එයට සම්බන්ධ හැගීම් උත්පාදනය වීම නැති වී යයි.

## අන් අයගේ අදහස් ආභාෂයෙන් අපගේ මනෝභාවය හැඩගැසීම

ත්‍රිපිටකයෙන්, බයිබලයෙන්, කුරානයෙන්, අන්තර්ජාලයෙන් හෝ නාඳුනන කෙනෙකුගෙන් ඔබ යම් දෙයක් ගැන දැනුවත් වුවත්, ලෝකයේ පවතින සෑම දැනුමක් ම යමෙකු විසින් කවදා හෝ ලෝකයට ලබාදී ඇති බව වටහා ගැනීම වැදගත් ය. ගුරුත්වාකර්ෂණය සිට මේසයක් ලෙස යමක් නම් කිරීම වැනි සරල දේ පවා මෙයට ඇතුළත් ය. එම නිසා අපගේ මනෝභාවය, උපතේ සිට මරණය දක්වා වර්ධනය වන්නේ අනුන්ගේ අදහස් තුළින් ය. අප භාෂාවක් ඉගෙන ගැනීමට පිවිසෙන්නේ මාස 12 ක් පමණ වන ළදරු වයසේදීය.

භාෂාවක් ඉගෙනීම අප අන් අය සමඟ සන්නිවේදන කිරීමේ හැකියාව ආරම්භ කරයි. මෙම හැකියාව සමඟ, අපගේ මනෝභාවයට බොහෝ දේ සිදු වේ. අපගේ දෙමාපියන්, පූජ්‍ය පක්ෂ, සමාජය, ගුරුවරු, මිතුරන්, මාධ්‍ය සහ මෙවැනි මූලාශ්‍ර බොහෝමයක් අපගේ මනෝභාවයේ වර්ධනයට බලපාන විවිධ ආකාරයෙන් ලැබෙන තොරතුරු අපේ මනස පෝෂණය කිරීම ආරම්භ කරයි. මෙම බාහිර තොරතුරු වලට අමතරව, අප විසින් ම නිර්මාණය කරන අදහස් ද අපගේ මනෝභාවය පෝෂණය කිරීමට ඉවහල් වෙයි. අපගේ අධ්‍යාත්මය පෝෂණය කරන මෙම ක්‍රමයෙහි ප්‍රතිඵලයක් වශයෙන්, අප සිතෙන සිතුවිලි සහ ගන්නා තීරණ අපට පක්ෂග්‍රාහී වන්නේ නොදැනුවත්වමයි. අප සැවොමට එකිනෙකාට ආවේණික සිතීම් තිබීම, රුචි අරුචිකම් තිබීම, ආකල්පමය වෙනස්කම් සහ තවත් වෙනස් ලක්ෂණ තිබීමට මූලික හේතුව වන්නේ අපේ මානසික වර්ධනය ඉහත සඳහන් අන්දමට නොයෙකුත් මූලාශ්‍ර ආශ්‍රිතව සිදු වූ සහ සිදු වෙමින් තිබෙන නිසයි.

## සිදුහත් කුමරුගේ මනෝභාවයේ වර්ධනය

සිදුහත් කුමරු උපන් දා සිටම, ඔහු යම් දිනක ශ්‍රේෂ්ඨ ආගමික නායකයෙකු වන බවට විවිධ බුද්ධිමතුන් අනාවැකි පළ කර තිබුණි. ඔහුගේ අනාගතය පිළිබඳව කරන ලද මෙම අනාවැකි රාජධානියේ සියල්ලෝ ම පාහේ දැන සිටි නිසා, ඔහුගේ පියා ඒය සිදුහත් කුමරාගෙන් රහසක් ලෙස තබා ගැනීමට උත්සාහ කලත්, වැඩිහිටි සිදුහත් කුමරාට මෙය රහසක් නොවුණු බව වටහා ගත යුතුය. තම පියාගේ රාජධානිය පාලනය කිරීමට අවශ්‍ය සුදුසු අධ්‍යාපනික සහ යුදමය පුහුණු වීම් සිදුහත් කුමරු අනිවාර්යයෙන්ම ලැබීය. ඔහුගේ දෙමාපියන් ඇතුළු සියලු දෙනා පාහේ එකල පැවති හින්දු ආගම අනුගමනය කළ නිසා, ඔහු හින්දු ආගම පිළිබඳ මනා අධ්‍යාපනයක් ලැබූ බව නිගමනය කල හැක.

සිදුහත් කුමරු ලැබූ මෙම හින්දු අධ්‍යාපන, ඔහුගේ අවධානය තමන්ගේ අධ්‍යාත්මය වෙත යොමු කිරීමට මුල් හේතුව වූයේ යැයි අපට උපකල්පනය කළ හැකිය. හින්දු අධ්‍යාපනයට අමතරව, ඔහු ගැන කරන ලද අනාවැකි ද ආධ්‍යාත්මික විමුක්තියේ බීජය ඔහු තුළ රෝපණය කිරීමට බලපෑ ප්‍රධාන සාධක ලෙස අපට සිතිය හැක. එහි ප්‍රතිඵලය වූයේ දුකට හේතු වන මූල හේතු සහ දුක නැති කිරීමේ මාර්ගය සෙවීම සඳහා සිදුහත් කුමරු ගිහිගෙය අත්හැර තපස් ජීවිතයක් තුලින් ගවේෂණයකට එළඹීමයි.

කෙසේ වෙතත්, තපස් සිද්ධාර්ථ අවුරුදු හතක් ගත කොට දුකට හේතුව සහ දුක නැති කිරීමේ මාර්ගය සොයා ගැනීමෙන් පසුව, බුදුන් වහන්සේ ලෙස තම සොයා ගැනීම් අන් අයට ඉගැන්වීමට මුලදී පසුබට විය. එසේ පසුබට වීමට හේතු වූයේ මන්ද යන්න පැහැදිලිව දැන ගැනීම වටී යැයි මට හැඟේ. බෞද්ධ ග්‍රන්ථ වල සඳහන් පරිදි අන් අයට බුදුන් සොයා ගත් ධර්මය අවබෝධ කර ගැනීමට ඇති නොහැකියාව එකම හේතුව වූයේ දැයි මතු කළ හැකි ප්‍රශ්නයක් වන අතර පැහැදිලි වම එයට ඊට වඩා හේතු තිබුණ බව සිතීම සාධාරණය.

### හින්දු ආගමේ බලපෑම්

හින්දු ඉගැන්වීම් වලින් ලබා ගත් ආභාෂය නිසා දුක නැති කිරීමේ මාර්ගය ගවේෂණය කිරීමේ දී සිද්ධාර්ථ තාපසයාගේ පලමු ඉලක්කය වන්ට ඇත්තේ හින්දු ආගමේ උගන්වන මෝක්ෂය සාක්ෂාත් කර ගැනීම සඳහා කටයුතු කිරීමයි. හින්දු අනුගාමිකයින් වූ නැණවත් පස්වග තාපසයන්ගේ සහාය ඇතිව වසර හයක් දැඩි දුෂ්කර පිළිවෙතක් අනුගමනය කිරීම මෙම උපකල්පනයට හේතු වේ. එම තපසුන් පස් දෙනා වසර හයක් ඔහුට සහයෝගය දැක්වීමත්, ඔහු දුෂ්කර කර්තව්‍යය නැවැත්තූ සැණින් ඔහු අත්හැර දැමීමත්, තපස් සිද්ධාර්ථ එතෙක් දුරට අනුගමනය කළේ කුමන ආගමික පිළිවෙතක්ද යන බව සනාථ කරයි. හින්දු ප්‍රධාන ග්‍රන්ථයක් වන "බෘහදාරණ්‍යක උපනිෂද්" හී,

මෝක්ෂය යනු උපත් සහ මරණ චක්‍රයෙන් ආත්මය මුදා ගැනීමේ ඉහළ ම කර්තව්‍යය ලෙස අර්ථ දක්වයි. මෝක්ෂය අත්පත් කරගත් පුද්ගලයෙකු මිය ගිය විට, ඔහුගේ ආත්මය මහා බ්‍රහ්මයාට එකතු වන බව සඳහන් කර ඇත. මෙම උපනිෂද් ග්‍රන්ථයේ ම, මහා බ්‍රහ්මයා වනාහී උත්තරීතර බලය, සදාකාලිකත්වය සහ විශ්ව ශක්තිය යනුවෙන් ද හඳුන්වාදීම් කර ඇත.

ඕනෑම පුද්ගලයෙකුට සතු විශ්වාසයන්ට බැහැර දෙයකට ඔහුගේ අවධානය යොමු කර ගැනීම, නවක ආගමික දේශකයෙකුට ඇති විශාල අභියෝගයකි. දැඩි විශ්වාසයන්ගෙන් වර්ධනය වූ අපේ මනස් ස්වභාවය සුළු වශයෙන් වත් වෙනස්, නව විශ්වාස වලට දක්වන ප්‍රතිචාර ඉතා ප්‍රතික්ෂේපකාරීය. අන්‍ය ආගමිකයන්ට ප්‍රචණ්ඩ වීම, අන්‍ය ආගමික ස්ථාන විනාශ කිරීම, තම මතවාද ආරක්ෂා කර ගැනීම සඳහා මරා ගෙන මැරෙන කල්ලි මගින් කරන විනාශ වැනි අපට අසන්නට ලැබෙන ප්‍රතික්‍රියාශීලී ප්‍රතිචාර වලින් මනුෂ්‍ය විශ්වාස මත පදනම් වී දියත් වන කෲරකම් වල සංවේදී ස්වභාවයන් මනාව පැහැදිලි වේ. එකම ආගමකට අයිති කණ්ඩායම් අතර පවා තමන්ගේ ඇදහිලි වල ඇති සුළු වෙනස්කම් නිසා ප්‍රචණ්ඩ ක්‍රියා ඇතිවීම, මිනිස් මනෝභාවය තුළ තිබෙන ඇදහිලි පද්ධති වල ඇති සංකීර්ණ භාවය මොනවට පිළිබිඹු කරයි.

බුදුන් සමයේ දී සිටි බොහෝ දෙනා එකල පැවති හින්දු ආගමේ අනුගාමිකයින්ය. එබැවින් බොහෝ අය ආත්මවාදය, කර්මය, දෙවියන්, නැවත ඉපදීම, මායා වැනි සංකල්ප වලින් සමන්විත හින්දු මත තරයේ විශ්වාස කලහ. බුදුන් වහන්සේ අවබෝධ කර ගත් අනත්ත සංකල්පය (එනම් ආත්මයක් නොමැති බව) හින්දු විශ්වාස පද්ධතියට ප්‍රධාන වූ ආත්මය පිළිබඳ අදහසට විශාල විෂමතාවක් විය. තමන් අවබෝධ කරගත් ධර්ම සාරය අන් අයට දේශනා නොකිරීමට බුදුන් වහන්සේගේ පැකිළීමට මූලිකව හේතු වන්නට ඇත්තේ ධර්මයේ සංකීර්ණ බවට වඩා එකල පැවති පොදු විශ්වාසයන් උන්වහන්සේගේ සැලකිල්ලට භාජනය වීම නිසා බව යැයි මා සිතමි. මෙම

අදහසට බොහෝ පාඨකයන් එකඟ වනවා ඇතැයි මා සිතන අතර මේ ගැන තවදුරටත් විමර්ශනය කරමු.

## ධර්ම මෙහෙවරට අවශ්‍ය වූ සැකසුම්

බුදුරදුන් තම ස්වයං අධ්‍යනයෙන් ලත් මනෝවිද්‍යාඥ දැනුම නිසා, අන් අයට විශේෂ වූ විශ්වාසයන් කෙරෙහි ඔවුන් තුල තිබූ නැඹුරුව සහ දැඩි බැඳීම නිවැරදිව අවබෝධ කල ශාස්තෘවරයෙකි. එම නිසා එදා පැවති විශ්වාස සහ ඇදහිලිවලට බාධාවක් නොවන පරිදි ඉතා සුහදශීලී ලෙස තම ඉගැන්වීම්, ප්‍රධාන වශයෙන් හින්දු ආගම ඇදහූ ජනතාව අතර ප්‍රචාරය කිරීම සඳහා නිසි ක්‍රමවේදයක් සකස් කිරීමට බුදුරදුන්ට අවශ්‍ය වූ බව පැහැදිලිය. බුදුරදුන් සකස් කළ එම සැලසුම කුමක්දැයි මදක් විමසා බලමු.

මෙම ගන්ථ්‍රය ආරම්භයේ සඳහන් කර ඇති පරිදි, **සියලුම ආගම්, අපට පවසන්නේ අපේ මනස ආකර්ෂණය කරගැනීම මුල් කර ගොතන ලද කථාය.** මෙම කථා බොහොමය කම දක්නට ලැබෙන පොදු තේමා වනුයේ දෙව්ලොව(ව්), අපාය(න්), දෙවියන්(යෝ), යහපත් හැසිරීමට ලැබෙන හොඳ විපාක, අයහපත් හැසිරීම් සඳහා ලැබෙන දඬුවම්, ආදී දේවල්ය. යුදෙව්, ක්‍රිස්තියානි සහ ඉස්ලාම් ආගම් වලට අනුව පුද්ගලයෙකු මරණයෙන් පසු ජීවිතය නිගමනය කරනු ලබන්නේ සර්වබලධාරී දෙවියන් විසිනි. එසේ කරනු ලබන්නේ මරණය සිදු වූ මොහොතේ දී නොවේ.එසේවන්නේ අනාගත දිනයක සිදුවීමට නියමිත "විනිශ්චය" කරන දිනයේදීය.

හින්දු ආගමේ සර්වබලධාරී දෙවි කෙනෙකුගේ මතය වෙනුවට ඇත්තේ මහා බ්‍රහ්මයන් ලෙස හැඳින්වෙන උත්තරීතර අධිකාරියක් යටතේ ඇති දෙවිවරුන් සහ දෙවඟනන්ගේ එකතුවකින් සමන්විත සාමූහික විශ්වයකුයි. එලෙසම,

මරණින් පසු යළි උත්පත්තියක් තිබීම සහ කර්මය යන සංකල්පද හින්දු ආගමේ තිබූ ජනප්‍රිය සහ ප්‍රබල විශ්වාසයන්ය.

බොහෝ පෙරදිග ආගම්වලට අනුව වර්තමාන ජීවිතයේ ඔබ කරන කුසල් හෝ අකුසල් වලට අනුව ඔබේ මතු ජීවිතයේ ඉරණම් සිදු වන බව "ඉපදීම - මරනය" චක්‍රයේ මූලධර්මයයි. ඔබ රැස් කර ගන්නා කුසල් හෝ අකුසල කර්ම වලට අනුව, මරණයෙන් පසු දෙව්ලොවක, අපායක, මනුෂ්‍යයෙකු ලෙස මෙලොව උපතක් හෝ සතෙකු වැනි වෙනත් ආකාරයක ජීවියෙකු ලෙස යළි උපත සිදුවිය හැකිය. කෙසේ නමුත්, වෙනත් බොහෝ ආගම්වල මෙන්, හින්දු ඉගැන්වීමේ මුල් අවධිවල දී මරණින් පසු උපත දෙව්ලොවලට සහ නිරයට පමණක් සීමා වී තිබුණි. එහෙත්, දෙව්ලොවක සිටින අයකුගේ සියලු කුසල කර්මයන් ගෙවී ගිය පසු ඔහුගේ ආත්මයට කුමක් සිදු වේද යන පසුව මතුවූ ප්‍රශ්නයට විසඳුමක් ලෙස මනුෂ්‍යයෙකු හෝ වෙනත් ආකාරයක ජීවියෙකු ලෙස මෙලොවේ යළි උපත ලැබිය හැකිය යන නව අදහස හින්දු ආගමට ඇතුළත් කර ඇත.

ඉවකට තිබූ පොදු විශ්වාස අබිබවා, තම ධර්ම ප්‍රචාරය සාර්ථක කර ගැනීමට නම්, තම මෙහෙවරට අනිවාර්යයෙන්ම හින්දු සංකල්ප කිහිපයක් ඇතුළත් කර ගැනීමට බුදුන් වහන්සේට සිදු වූ යැයි අපට උපකල්පනය කළ හැකිය. තම ධර්ම මෙහෙවර, පස්වග තවුසන්ට වදාළ දාර්ශනික ධර්ම ස්වරූපයකට පමනක් සීමා කරනවාට වඩා, පොදු ආගමික ස්වරූපයකට ව්‍යූහගත කිරීම වඩා සුදුසු විය. බොහෝ අය මාගේ මෙම අදහසට එකඟ නොවීමට හැකි වුවත්, කෙදිනක හෝ ශ්‍රේෂ්ඨ ආගමික නායකයෙකු බවට පත් වන බවට සිදුහත් කුමරු කුඩා කල කරන ලද අනාවැකි නිසා ඇති කරන ලද මානසික බලපෑමද බුදුරදුන්ට තම ධර්මය ප්‍රචලිත කිරීමේ මෙහෙවරේ ආරම්භයට පෙලඹීමක් වන්නට ඇත. මෙම උපකල්පනය පිළිබඳ තර්කය පසෙක තබා, හින්දු ආගමෙන් පැවත ආ මරණින් පසු නැවත ඉපදීම සහ කර්මය යන විශ්වාස නොසලකා හැරීමට නොහැකි වූ බැවින්, බුදුන් වහන්සේ මෙම සංකල්ප දෙක

තම ඉගැන්වීම්වලට ඇතුළත් කරන්නට ඇති බව පැහැදිලිය. එදා මේ පියවර නොගත්තේ නම් අද බුදු දහම ලෝකයේ නොතිබෙන්නට හැකියාවක් තිබුණි. මරණින් මතු ජීවිතය ප්‍රතික්ෂේප කල බුදුරදුන්ගේ සමකාලීන දර්ශනවාදීන්ගේ ධර්ම ප්‍රචාර ලද අසාර්ථකත්වය මෙම සඳහන මනාව ඔප්පු කරයි. පරම්පරා ගණනාවක සිට පැවත ආ මරණින් මතු ජීවිතය පිළිබඳ විශ්වාසය තව තවත් තහවුරු කරනවාට වඩා එය ප්‍රතික්ෂේප කිරීමට එකල ජනයාට කිසිදු අවශ්‍යතාවක් වූයේ නැත. යම් පුද්ගලයෙකුගේ විශ්වාසයන්ට එරෙහිව කරන දේශනාවන්, එම පුද්ගලයාගේ සිත රිදවන හැඟීම්ධාරී කරුණක් ලෙස අප කවුරුත් අත්විඳ ඇති සත්‍යයක් වන අතර බුදුරදුන් මේ ගැන ගැඹුරින් අවබෝධ කරගත් විශේෂ පුද්ගලයෙකි.

බුද්ධිමත් නිගමනයක් ලෙස, බුදුන් වහන්සේ කර්මය සහ මරණින් පසු නැවත ඉපදීම යන හින්දු සංකල්ප බුදුන්ගේ දේශනා වලට අනුයුක්ත කළේ එම සංකල්ප බෞද්ධ ධර්මයට හානියක් නොවන පරිදිය. බුදුන් වහන්සේ එවකට දැඩි ලෙස විශ්වාස කල කර්ම සංකල්පය නව තලයකට පුළුල් කළේය. කර්ම සංකල්පය සිත් තුළ ගැඹුරු බලපෑමක් ඇති කළ විශ්වාසයක් වූ අතර බුදුන් වහන්සේ එම සංකල්පය නවීන අන්දමකට අර්ථ වත් කිරීම එකල අනුගාමිකයන්ගේ අගයට ලක් විය. වෙනත් ආගම් අදහන්නන් පවා, අදත් කර්ම සංකල්පයට යම් නැඹුරුවක් තිබෙන බව පෙනේ. එයට හේතුව වන්නේ, පැහැදිලි කළ නොහැකි ප්‍රශ්නකාරී ජීවන අවස්ථාවන්ට කර්මවාදී පිළිතුරු බොහෝ විට ගැළපෙන නිසයි. නමුත් යථාර්ථය නම් කර්ම වාදය බොහෝ විට යෝග්‍ය වන්නේ අවස්ථාවන්ට සුදුසු වන සැනසිලි දායක විසඳුම් ලෙසයි. දරුවකුගේ අදක්ෂතාවයට හේතුවක් වශයෙන් ක්‍රිස්තියානි දෙමාපියන් එය දෙවියන්ගේ කැමැත්ත ලෙස සිදුවන බව සඳහන් කිරීමත් පෙරදිග ආගම් අදහන්නන් අය එය කර්මය නිසා සිදුවන්නක් ලෙස සඳහන් කිරීමත් පොදු ලක්ෂණයකි.

බුදුරදුන්ගේ කාලයට පෙරාතුව සිටම පැවත ආ විශ්වාසයන් ලෙස එවකට පැවති පොදු විශ්වාසයන් වූ දෙවි දේවතාවන් ඇති බව, මාර, දෙව්ලොවන් සහ නිරයන් වැනි සංකල්ප බුදුරදුන් තම දේශනාවලට ඇතුළත් කරන ලදී. එසේ කිරීමට හේතු වූයේ දිගු කලක් තිස්සේ ජනප්‍රිය ලෙස පැවති මෙවැනි විශ්වාසයන් මිනිසුන්ගේ සදාචාරාත්මක හැසිරීම් ප්‍රවර්ධනය කිරීම සඳහා භාවිතා කළ හැකි මෙවලම් වීමයි.

බුදුරදුන්ට වඩාත්ම තීරණාත්මක කරුණ වන්නට ඇත්තේ හින්දු ආගමේ ආත්මය සමඟ ඍජුව සම්බන්ධ වූ මරණින් පසු නැවත ඉපදීමේ සංකල්පය තම දේශනාවලට කිසියම් ක්‍රමයකට අනුවර්තනය කිරීමයි. බුදුන් වහන්සේ සොයා ගත් අනත්ත සංකල්පය, ආත්ම සංකල්පයට සම්පූර්ණයෙන්ම පටහැණි වන්නේ මරණින් පසු ජීවිත ක්‍රියාවලියට භාජනය වන ආත්මවාදය බුදුරදුන්ගේ අනත්ත සංකල්පය මගින් සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කිරීම නිසායි. මරණින් පසු ජීවිතය පිටුපස ඇති ආත්මය පදනම් වූ හින්දු ඉගැන්වීම වෙනුවට, බුදුන් වෙන අනුවාදයක් ඉදිරිපත් කලේ විකල්පයක් වශයෙන් යැයි මට හැඟේ. එම මතය අවධාරණය කළේ මරණයෙන් පසු ඊළඟ ජීවිතයට සංක්‍රමණය වන්නේ ආත්මයක් නොව, එසේ සංක්‍රමණය වන්නේ මරණයට පෙර යම් පුද්ගලයෙකුට ඇතිවී තිබූණ අවසාන සිතුවිල්ල බවයි. මේ අනුව සාධාරණය කරනු ලැබුවේ, ආත්මයකින් තොරව, යමෙකුගේ චින්තන ධාරාව අඛණ්ඩව එක ජීවිත පැවැත්මක සිට මරණින් පසු තවත් නව ජීවිතයකට යෑමයි. මෙම අනුවාදය හින්දු ආත්මවාදයට වෙනස් බව පෙන්වීම සඳහා එය "නැවත ඉපදීම" යන්න වෙනුවට "පුනරුත්පත්තිය" ලෙස අර්ථකථනය කර ඇත.

## අනත්ත සහ පුනරුත්පත්තිය සම්බන්ධ සංකූලතා

තාර්කික චින්තකයින් අතර පහසුවෙන් කැලඹීමක් ඇති කළ හැකි පරස්පර විරෝධී සංකල්ප දෙකක් වන පුනරුත්පත්තිය සහ අනත්ත සංකල්පය බුදුන් වහන්සේ දේශනා කලේ මන්දැයි කෙනෙකුට ප්‍රශ්න කළ හැකිය. මෙය බෞද්ධ සාහිත්‍යයට යොමු කොට විමසා බැලීමේ දී එය මතභේදයට තුඩු දිය හැකිය යන හැඟීම බුදුන් වහන්සේට තිබෙනු බවත් බුදුන් මේ ගැන විමසිලිමත් වූයේ යැයි කීම නිවැරදිය. පුනරුත්පත්තිය සූත්‍ර රාශියක සඳහන් කර තිබුණද එය අනත්ත සංකල්පයට පරස්පර විරෝධීය. එහෙයින්, බුදුන් වහන්සේ තමන් සොයා ගත් අනත්ත සංකල්පය තරයේ ආරක්ෂා කල නමුත් බොහෝ අයට එය දේශනා කිරීමෙන් සහ ආත්ම වාදය දැඩි සේ විවේචනය කිරීමෙන් වැලකී සිටියේය.

කෙසේ වෙතත් මේ ගැන යම්කිසි කැලඹීමක් ඇතිවීමට හැකි වූ විශේෂ අවස්ථාවක් පහත සඳහන් වේ. බුදුන් වහන්සේ පිළිතුරු දීමෙන් වැළකී සිටි ප්‍රශ්න දහයක් බෞද්ධ ග්‍රන්ථ වල සඳහන්ව ඇත. "බුදුන් වහන්සේ මරණින් මතු නැවත උපදිනවාද?" යන ප්‍රශ්නය එම දහයෙන් එකකි. කෙසේ වෙතත්, වරක් බුදුන් වහන්සේට මෙම ප්‍රශ්නයට පිළිතුරු දීමෙන් වැලකී සිටීමට නොහැකි විය. එයට හේතු වූයේ, බුදුන් ප්‍රශ්න වලට පිළිතුරු සපයන ශෛලිය අනුකරණය කරමින් ප්‍රශ්න වලට පිලිතුරු සැපයීමට ප්‍රසිද්ධව සිටි තම ඥාති සොහොයුරා වන අනුරුද්ධ රහතුන් විසින් යම් අයෙක් මෙම ප්‍රශ්නය ඔහුගෙන් ඇසූ විට ඔහු ප්‍රසිද්ධියේ සැපයූ පිළිතුර නිසාය. අනුරුද්ධ රහතුන් දුන් පිලිතුරු අපැහැදිලි සහ ව්‍යාකුල බව ඔහුටම වැටහුණු බැවින් ඔහු ඒ ගැන බුදුන්ගෙන් විමසීමට තීරණය කරන ලදී. බුදුන් වහන්සේ අනුරුද්ධ රහතුන්ගේ වැරදි පිළිතුර නිසා පසුව ඇතිවීමට තිබූ ව්‍යාකූලත්වය සමනය කිරීමට තම පිළිතුරු පැහැදිලි කලේ **අනුරාධ සූත්‍රය මගිනි. (https://tripitaka.online/sutta/3445)**

මෙම සූත්‍රයට අනුව, කෙනෙකුගේ ආත්මය විග්‍රහ කිරීමට එවකට සම්මතව උපයෝගී කරගත් පංච උපාදානස්කන්ධය සම්බන්ධ අදහස මූලිකවම වැරදි අදහසක් ලෙස බුදුරදුන් පැහැදිලි කලේය. බුදුන් මෙම අදහස පිටුපස ඇති මිථ්‍යාව පෙන්වා දීම සඳහා පංච ස්කන්ධ සංඝටක නොයෙකුත් අන්දමට උපයෝගී කොට ඉතාමත් තාර්කික පැහැදිලි කිරීමක් කරන ලදී. තමන් හෝ ආත්මය හෝ මම ස්ථාපිත කල හැකි අයකු පමනක් නොව, බුදුන් යැයි ස්ථාපිත කිරීමට හැකි අයෙකු පවා නොමැති බව, බුදුන් වහන්සේ මෙහිදී වදාළේය. අනත්ත සංකල්පය මත පදනම් වූ එම තර්කමය පිළිතුර, බුදුන් වහන්සේට පමනක් නොව, ජීවත් වන ඕනෑම කෙනෙකුට මරණින් මතු ජීවිතයක් ඇති යැයි කියන තර්ක වල අභූත භාවය පෙන්වා දෙයි.

මේ අනුව, යථාර්ථිකව, බුදුරදුන් පුනරුත්පත්ති ගැන වදාළේ හුදෙක් පුනරුත්පත්තිය විශ්වාස කළ පුද්ගලයන්ගේ අවධානයට සහ උන්නතියට බව අපට උපකල්පනය කළ හැකිය. පුනරුත්පත්තිය පිළිබඳ අදහස බුදුරදුන්ට ඇතැම් අවස්ථාවල දී යම් ප්‍රශ්න නිරාකරණය කිරීමට බෙහිවින්ම උපකාර විය. බුදුන්වහන්සේ අවස්ථා කිහිපයක දී මානසික සහන අවශ්‍ය පුද්ගලයන්ගේ තත්ත්වයකට ගැළපෙන පරිදි මනෝචිකිත්සක ප්‍රතිකාරයක් ලෙස පුනරුත්පත්තිය භාවිත කළේය. කොසොල් රජු දුටු සිහින මගින් කම්පා වී සිටි ඔහුට, සහනයක් ලබා දීම සඳහා මරණින් මතු ජීවිතය පිළිබඳව ඇති විශ්වාසය බුදුරදුන් භාවිතා කළ කදිම අවස්ථාවකි.

බුදුරදුන් සොයා ගත් මුලික ධර්ම වන චතුරාර්ය සත්‍ය, ආර්ය අෂ්ටාංගික මාර්ගය සහ අනත්ත සංකල්පය සුදුසු වූයේ බුද්ධිමත් අයට පමණි. බුදුරදුන් සොයා ගත් ධර්මය අවබෝධ කර ගැනීමට පස්වග මහණුන් හට ප්‍රමාණවත් සහ සුදුසු බුද්ධියක් තිබුණි. ඔවුන් දැඩි හින්දු භක්තිකයන් වු නිසා ඔවුන් ආත්මවාදය කේන්ද්‍ර වු විශ්වාස පදනමක සිටින්නට ඇත. එබැවින් බුදුන් දේශනා කල අනත්ත සංකල්පය පිළිගැනීම ඔවුන්ට ප්‍රථමයෙන් පහසු නොවන්නට ඇති නමුත් බුදුන් වහන්සේ දේශනා කළ සියල්ල පිළිගැනීමෙන්

ඔවුන් නිරූපනය කළේ ඊට හාත්පසින්ම වෙනස් දෙයකි. ඔවුන් රහතුන් බවට පත් වූයේ **අනත්තලක්ඛන සූත්‍රය** ශ්‍රවණය කිරීමෙන් පසුව බව සඳහන් වීම විශේෂ කරුණකි. මෙයින් පෙනී යන්නේ බුදුන් වහන්සේ වදාළ ධර්මය අවබෝධ කර ගැනීමට ඔවුන් තුළ තිබුණ තීක්ෂ්ණ බුද්ධිමත් බවට සමානව තමන් සොයා ගත් එම අඟනා ධර්මය ඔවුන්ට තේරුම් ගත හැකි ආකාරයකට පැහැදිලි කිරීමට බුදුරදුන් තුල තිබූන නිපුණත්වයක්ය.

## බෞද්ධ "කථාව" - පිළිපැදීම් ප්‍රවාහ

"සෑම ආගමක්ම පාහේ ඔබේ අවධානය දිනා ගැනීම සඳහා නිරූපණය කරන්නේ මනාව ගොතන ලද කථාවකි'' යන ප්‍රකාශය මෙම ගන්ථ්‍රයේ ආරම්භයයි. එසේ නම් බුදු දහමට සම්බන්ධ කථාව කුමක් දැයි ඔබට ප්‍රශ්නයක් මතු වනවා ඇත.

මූලික වශයෙන්, ලෝකයේ පවතින බෞද්ධ පිළිපැදීම් සහ ඇදහීම් සලකා බැලීමෙන් සමාජය තුලින් දැකිය හැකි මූලික කථා හෝ ප්‍රවාහ දෙකක් විග්‍රහ ගත හැකිය.

## පලමු කථාව - පිළිපැදීම් ප්‍රවාහ 1

**මෙම ප්‍රවාහයේ,** ජීවිතයේ යථාර්ථය අධ්‍යයනය කිරීම උදෙසා බුදුන් වහන්සේ දේශනා කර ඇති ධර්ම සාරය අඩංගු වන අතර මම යනු කවුද යන දාර්ශනික ප්‍රශ්නය විමර්ශනය කිරීම, සිතීම වැඩිදියුණු කිරීම සහ එහි පාලනය, දිරි ගන්වයි. ඔබට ඇති ප්‍රශ්න වලින් ඔබ ගලවා ගැනීමට උපකාර කළ හැකි බලවේගයන් හෝ ප්‍රාථමික මානව සංස්කෘතීන්ගෙන් පැවත එන සියලු මිථ්‍යා විශ්වාස සහ එවැනි අදහස් මෙම ප්‍රවාහය ප්‍රතික්ෂේප කරයි.

මෙම ප්‍රවාහයේ අන්තර්ගත බෞද්ධ මතවාද සාමාන්‍ය අයට වඩා තාර්කික හා දාර්ශනික විවෘත මනස් ඇති චින්තකයින්ට වඩාත් සුදුසු ය. මෙහි අඩංගු දෑ පදනම් වී ඇත්තේ බුදුන් වහන්සේගේ සොයා ගත් මූලික ධර්ම සංඝටක පමණක් නිසා බෞද්ධ ඉගැන්වීම්වලින් නිරූපනය වන විකෘති නොවූ නිර්මල අනුවාදයක පිළිපැදීම් ප්‍රවාහය ලෙස සැලකිය හැකිය. මෙහි අවධාරණය යොමු කර ඇත්තේ මනස පදනම් කරගත් සියලු දුක් වේදනා සම්පාදනය කරන මනසේ අභ්‍යන්තර ස්වභාවය සහ ක්‍රියාවලිය අවබෝධ කර ගැනීම සහ එමගින් සිතෙහි දුක් සහගත සිතුවිලි ඇතිවීම පාලනය කර ගැනීමයි. මූලික වශයෙන් මෙම ප්‍රවාහයට අයත් වන්නේ ධම්මචක්කප්පවත්තන සූත්‍රය සහ අනත්තලක්ඛන සූත්‍ර දෙක මගින් පස්වග මහණුන් හට දේශනා කරන ලද බුදුන් සොයා ගත් ධර්ම සාරයයි. මෙයට අමතරව බුදුරදුන් දැරූ මත, අවවාද සහ බුදුන් සම්බන්ධව ඇතිව තිබූ වැරදි අදහස් පැහැදිලි කිරීම සඳහා බුදුන් දේශනා කර ඇති සූත්‍ර කිහිපයක් සමඟ කරුණු පිඩක් පහත විස්තර කර ඇත.

**කාලාම සූත්‍රය** ඉතා වැදගත් වන්නේ අනිත් ආගම් වල දැකිය නොහැකි ලක්ෂණයක් එය පිළිබිඹු කරන නිසාය. මෙම සූත්‍රය සැමට කරන විවෘත ආයාචනයකි. එම ආයාචනය නම්, ඕනෑම අදහසක් පිළිගැනීමට පෙර, එම අදහස් තමන්ට හැකිසේ පලමුව තර්කයට භාජනය කරන ලෙසටත්, එසේ කිරීමෙන් පසු එම කරුණු තර්කානුකූලව පිළිගැනීමට හැකි නම් පමනක් පිළිගන්නා ලෙසටත්ය. මෙම විවෘත ආරාධනාවට බුදුන් වහන්සේ ඉගැන්වූ දේ පවා ඇතුළත් කරන්නට යැයි බුදුරදුන් ඉල්ලා සිටියේය. බුදුරදුන් වදාළ පරිදි විවෘත හෝ පුළුල් ඇගයීමකින් තොරව පිළිගන්නා ඕනෑම දෙයක් ප්‍රඥාවෙන් තොර අන්ධ විශ්වාසයන් මෙන් සැලකිය හැකිය.

**අනවත්ජීත සූත්‍රය** අනත්ත සංකල්පය අවබෝධ කරගැනීම සඳහා සුදුසු අය පිළිබඳවත්, එය අවබෝධ කල අය අතර ඇති විශේෂ ගුණ ලක්ෂණ හයක් ගැනත් විස්තර කරයි.

**මූලපරියාය සූත්‍රය** අනත්ත සංකල්පය ඉස්මතු කරයි. "සියල්ලට මූල" යන මාතෘකාව යටතේ සාකච්ඡා වන මෙම දේශනාව මම යනු කවරෙක් ද? යන ප්‍රශ්නය අමතයි. මෙම දේශනාව අවසානයේ දී ශ්‍රාවකයින් බුදුරදුන් වදාළ ධර්ම කාරනා කෙරෙහි ප්‍රසන්න භාවයක් නොදැක්වූ බව සූත්‍ර පාද සටහන්වල සඳහන් වේ. සමහර විට, මෙයට හේතුව එහි අන්තර්ගත ධර්මය ඔවුන්ට තේරුම් ගැනීමට නොහැකි තරම් සංකීර්ණ වීම හෝ එම ධර්ම තොරතුරු ඔවුන්ගේ විශ්වාස වලට පටහැණි වූ නිසා වන්නටද පුළුවන.

බුදුන් සමයේ සිටි සාමාන්‍ය ජනතාව, එවකට ප්‍රසිද්ධියට පත්ව සිටි ශ්‍රාතෘවරුන් හට අහසින් යෑම, අන් අයගේ සිත් කියවීම වැනි නොයෙකුත් විශේෂ දෑ කිරීමේ අද්විතීය බලයන් ඇතැයි අපේක්ෂා කළේය. බුදුරදුන් තමා සතුව එවැනි කිසිදු ආකාරවල අද්විතීය බලයන් නොතිබුණේයැයි **සුසීම සූත්‍රයෙන්** පැහැදිලිව ප්‍රකාශ කලේය.

ධම්මපදයේ දක්වා ඇති පරිදි, පුද්ගලයෙකුට ජීවිතයේ යථාර්ථය අවබෝධ කර ගැනීම සඳහා විනිවිද පෙනෙන තීක්ෂණ බුද්ධියක් ඇති කිරීමට මනස කේන්ද්‍රීය වේ. අංගුලිමාල - මිනීමරුවෙක්, උග්ගසේන - සර්කස් කරුවෙක්, සුනීත - කසළ සෝදකයෙක්, මීට අමතරව කාන්තාවන් කීපයක් ඇතුළු තවත් බොහෝ දෙනෙක් බුදුන් දෙසූ එක ධර්ම දේශනාවකට සවන් දීමෙන් රහත් බවට පත්වීමෙන් ඔවුන් සතුව තිබූ ධර්මය විනිවිද යෑමේ හැකියාව නිරූපනය කළේය. ඔවුන් කිසිවෙක් බුදුන් වහන්සේට පුද පූජා කල හෝ ධර්මය පිළිබඳ ගැඹුරු දැනුමක් තිබූ හෝ භාවනාව පිළිබඳ අත්දැකීම් තිබූ හෝ දුක්ඛයන්ගෙන් මිදීම සඳහා අත්‍යවශ්‍ය යැයි බොහෝ අනුගාමිකයින් විශ්වාස කරන පූජනීය සහ ආධ්‍යාත්මික චාරිත්‍ර ඉටු කල අය නොවූ බව අප මදක් සිතීම අගනේය. නොයෙක් අන්දමේ පූජනීය දෑ වල මිඩංගු වනවාට වඩා වැදගත් වන්නේ තීක්ෂණ ප්‍රඥාවකින් යථාර්ථය මනසින් අවබෝධ කරගැනීම බව ඔවුන් පෙන්නුම් කලේය.

ප්‍රඥාව යනු දැනුමට වෙනස් දෙයක්ය. තමන් අත්කරගත් දේ අන්‍යයන්ට පහදා දීමට දැනුමක් ඉහත සඳහන් පුද්ගලයන් හට නොතිබුණත්, ජීවිතයේ යථාර්ථය තේරුම් ගත යුතු ආකාරයටම එය අත්විඳීමේ ප්‍රඥාව ඔවුන්ට මොහොතක දී පහළ විය. බෞද්ධ ධර්මයේ ඇති සංකීර්ණ සංසටක ගැඹුරින් අධ්‍යයනය කිරීමෙන් යමෙකුට ධර්මය පිළිබඳ හොඳ දැනුමක් ලබා ගත හැකි නමුත්, එයින් අදහස් වන්නේ ඔහු ප්‍රඥාවෙන් එම ධර්මය අවබෝධ කර ගෙන ඇති බව නොවේ. එම පුද්ගලයාට ධර්මාවබෝධය ප්‍රඥා සම්පන්නව කිරීමේ හැකියාවක් නොමැති නම්, එම අධ්‍යයනය ඔහුට සහනයක් වීම වෙනුවට පීඩාකාරී හැඟීම්, ව්‍යාකූලත්ව සහ කාංසාව ඇති කිරීමේ අවදානමක් සැකසීමට පුළුවන. එවැන්නක් ඔහුට ඇතිවුවහොත් ඔහුට ලැබෙන්නේ ඔහු උත්සාහ කරන දුක් සමනයට බෙහිවින්ම ප්‍රතිවිරුද්ධ ප්‍රතිඵලයකි.

පලමු ප්‍රවාහයට යෝග්‍ය අනුගාමිකයින් වශයෙන් අපේක්ෂා කල හැක්කේ විමසිලිමත්, ධර්මය විමර්ශනය කිරීමට උනන්දුවන සහ තමන් කරන ක්‍රියාවන් ගැන ගැඹුරු අවබෝධයක් තිබෙන පර්යේෂක ගණයේ පුද්ගලයන්ය. මෙම ප්‍රවාහයේ අවධානයට මූලිකව ලක් වන්නේ චතුරාර්ය සත්‍ය, ආර්ය අෂ්ටාංගික මාර්ගය සහ අනත්ත සංකල්පය වේ. මෙහි ඇතුළත් ධර්ම සංසටක මනාව අවබෝධ කර ගෙන, එම කරුණු ඔබේ චින්තන ක්‍රියාවලියට ඵලදායී ලෙස ඇතුළත් කර ගන්නේ නම්, බුදුන් වහන්සේ නිර්වාණය සහ උත්තරීතර සැපය ලෙසින් භුක්ති විඳිමිට හැකි වුන දුකින් තොර මානසික තත්වයක් භුක්ති විදීමට හැකි වනු ඇත. ඉහත ප්‍රකාශය ඉතා සරල බවක් උසුලන නමුත්, දාර්ශනිකව බලන කල දුකින් තොර මානසිකත්වයක් භුක්ති විදීමට නම් දුඛය ස්වභාවයේ පැවැත්මද අවශ්‍ය කොටසක් වන බව තව දුරටත් මෙනෙහි කල හැකි ගැඹුරු පැති කඩක් පෙන්නා දෙයි.

## දෙවන කථාව - පිළිපැදීම් ප්‍රවාහ 2

බොහෝ බෞද්ධ අනුගාමිකයන් අනුගමනය කරන දෙවැනි ප්‍රවාහය දාර්ශනික භාවයකින් තොර අනිකුත් ආගම් වල ඇති ආගමික ඇදහීමේ ස්වරූපයකට නිර්මාණය වී ඇත. මෙම ප්‍රවාහය, පළමු ප්‍රවාහයේ දී සඳහන් කළ බෞද්ධ ධර්ම සංඝටක වලට අමතරව හින්දු ආභාසයෙන් ලද දෙව්ලොවන්, අපායන්, දෙවි දේවතාවුන්, බ්‍රහ්ම, මාර යනාදී විවිධ විශ්ව මට්ටම් වල දේ ඇතුළත් කර ඇති අතර වඩාත් වැදගත් ලෙස සැලකිය හැක්කේ එකල මිනිස් මනසට වඩාත් සමීපව තිබූ කර්මය සහ මරණින් පසු නැවත ඉපදීමේ විශ්වාස ඇතුළත් වීමයි. බුදුන් වහන්සේ වදාළ සූත්‍ර විශාල ප්‍රතිශතයක් ශ්‍රද්ධාව මුල්කරගත් අනුගාමිකයින්ට උචිත වූ දේශනාවන් වීම බොහෝ බෞද්ධයන් මෙම ප්‍රවාහය අනුගමනය කිරීමට රුකුලක් වී ඇත. මෙම ප්‍රවාහයට ආවේණිකව සෑදී තිබෙන නොයෙකුත් ආගමික සිරිත් විරිත්, වතාවත්, පූජා වැනි බොහෝ දේ අනුගාමිකයන්ට අවශ්‍ය ලෙස ප්‍රායෝගිකව සම්බන්ධ වීමට හැකි බවත් ඒවා කිරීමෙන් මනසට ගෙන එන මානසික සහන ජීවිතයට මහෝපකාරී වේ. මෙම විශ්වාස, ඇදහීම් සහ ක්‍රියාවන් මේම ජීවිතයේ යහපතටත්, මරණින් පසු උපදින ජීවිතයේ දී උසස් බලාපොරොත්තු ඇති කර ගැනීමටත් ආධාර වේ.

මෙම ප්‍රවාහය අනුගමනය කරනු ලබන්නේ, ධර්මය විමර්ශනයට භාජනය කරන්නනට වඩා ඇදහිලිවන්තයන්ය. මොවුන්ගෙන් සමහරුන් බුදුන් කෙරෙහි ඇති සුවිශේෂ භක්තිය නිසා බුදු දහමෙහි ආරක්ෂකයන් අන්දමට හැසිරෙන අවස්ථාද එමටය. මෙවැනි හැසිරීම අන් ආගමික භක්තිකයන් අතරද දක්නට ඇති පොදු ලක්ෂණයකි.

ආගම් මගින් ඔබේ අධ්‍යාත්මයට නැති ප්‍රශ්න හඳුන්වා දෙන බවත්, ඒවායින් ගැලවීමට පිළියම් මාර්ග ලබා දෙන බවත් මෙම ගන්ථය ආරම්භයේ දී සඳහන් කරන ලදී. උදාහරණයක් වශයෙන්, ක්‍රිස්තියානි ආගම ඔබ පව් කාරයෙකු බව

ප්‍රකාශ කරන්නේ ඔවුන් විශ්වාස කරන ලෝකය මැවීමේ කථාවට සම්බන්ධ සිද්ධියක් පදනම් කරගෙනය. එම පාපයෙන් මිදීම සඳහා, දෙවියන් වහන්සේ කෙරෙහි පූර්ණ විශ්වාසයක් ඇතිව යහපත් හැසිරීමකින් ජීවිතය ගතකළ යුතු අතර, එසේ කළහොත් මරණින් පසු ඔබගේ ආත්මය, දෙවියන් වහන්සේගේ රාජ්‍යය හෙවත් ස්වර්ගයට ඇතුළු වීමට සුදුසුකම් ලබන බව බයිබලයේ සඳහන් වී ඇත. ක්‍රිස්තියානි ආගමට අනුව, මරණයෙන් පසු පුද්ගලයෙකුගේ ආත්මය ක්ෂණිකව ස්වර්ගයට නොයන නමුත් ආත්මය උදාසීන තත්වයකට පත් වන අතර, එය සර්වබලධාරී දෙවියන්ගේ තීරණය සඳහා විනිශ්ච දිනය උදාවන තෙක් බලා සිටිය යුතුය. දෙවියන් වහන්සේ එම ආත්මය ස්වර්ගයට ඇතුළු වේද නැතිනම් නිරයට යනවාද බව තීරණය කරයි. නමුත් විනිශ්චය දිනය කවදා සිදු වේද යන බවට නිෂ්චිතයක් බයිබලයේ සඳහන් වී නැත.

මෙලෙසම බෞද්ධ ඇදහිලි දෙවැනි ප්‍රවාහයෙන් සංෂිප්තව ප්‍රකාශ වන්නේ පහත සඳහන් කරුණුයි.

ප්‍රථමයෙන්ම ඔබට ඇති ජීවිතය මේ උපතින් ආරම්භ වූවක් නොවූ බව දැන ගත යුතුයි. ඇස්තමේන්තු කල නොහැකි වසර ගණනාවකට පෙර ආරම්භ වූ ඔබ ජීවිතය, උත්පත්ති සහ මරණ චක්‍ර දාමයක් අනුගමනය කරමින් මේ ජීවිතයට සංක්‍රමණය කර ඇත. ඔබේ ජීවිතය ආශ්‍රිත ගැටලුව නම්, මෙම ජීවිත කාලයට පසු ඔබ යලිත් මෙම චක්‍ර දාමය අනුව නැවත නැවතත් ඉපදීම සහ මරණයට පත්වීම නිසා දුකට භාජනය වීමය. ඔබේ පළමු ජීවිතය ආරම්භ වීමට හේතු වූයේ කුමක් දැයි ප්‍රශ්න නොකරන්න. එම ප්‍රශ්නය සඳහා කාලය නාස්ති කිරීම වැදගත් නොවේ. උපමාවක් හැටියට එම ප්‍රශ්නය විෂ ඊතලයකට හසු වූ අයෙකු විෂ ඊතලය ඉවත් කිරීමට පියවර ගන්නවා වෙනුවට, එම ඊය විද්දේ කවුද බව දැන ගැනීමට බල කරමින් අගනා කාලය නාස්ති කිරීම වැනිය. සංසාර චක්‍රයට අනුව, සදාකාලිකව, ඔබ සෑම මරණයකින් පසුව නැවත නැවතත් ඉපදේ. ඔබගේ අනාගත ජන්මයන් සහ ඔබගේ වර්තමාන ජීවිතයේ සිදු වන දේවලට බොහෝ දුරට හේතු වෙන්නේ ඔබ අතීත උත්පත්ති වල දී

කරන ලද සහ වර්තමාන ජීවිතයේ කරන ලද සහ කරනු ලබන කර්මයන්ගේ විපාකයි. සංසාර ගමන සිදුවන්නේ මෙම මූලධර්මයට අනුකූලවයි.

අපේ ජීවිත මූලික වශයෙන් දුකෙන් පීඩා විඳින අතර ජීවිතයේ සෑම දෙයක්ම අනිත්‍යභාවයට පත්වීම මෙය තවත් ස්ථාපිත කරයි. උත්පත්ති සහ මරණ චක්‍රයෙන් මිදීමට ඇති එකම මග නිර්වාණය සාක්ෂාත් කර ගැනීමයි. ආර්ය අෂ්ටාංගික මාර්ගය, නිර්වාණය සාක්ෂාත් කර ගැනීම සඳහා අනුගමනය කළ යුතු ක්‍රම වේදයයි. ධර්මය කෙරෙහි අවිවාදිත ශ්‍රද්ධාව, සීලවන්ත වීම, ආධ්‍යාත්මික බෞද්ධ ක්‍රියා වර්ධනය , තෙරුවන් වැඳීම, මව්පියන්ට උපස්ථාන කිරීම, ආගමික ස්ථාන වන්දනා කිරීම, පැවිද්දන්ට සහ දුප්පතුන්ට දන් දීම යනාදී බොහෝ යහපත් ක්‍රියාවන් කර්ම රැස් කිරීමට උපකාරී වන අතර එවන් දෑය නිවනට මග පාදයි.

කෙසේ වෙතත් මතු කාලයකදී පහල වීමට නියමිත මෛත්‍රී බුදුන් වැඩ සිටින කාලයේ දී නැවත ඉපදීමට හැකි වුවහොත් නිර්වානය සාක්ෂාත් කිරීම තරමක් පහසු වනු ඇත. මෙම විශ්වාසය මත බොහෝ අනුගාමිකයන් එවැනි උපතක් ඉලක්ක කර පූජනීය කටයුතු කරයි. මෛත්‍රී බුදුන් දැනට සිටින්නේ තුෂිත දෙව්ලොව දෙවි කෙනෙකු ලෙසය. තවත් වසර 5000 කින් පමණ බුද්ධත්වය නැවත සොයා ගැනීම සහ ධර්මය ඉගැන්වීම සඳහා ඔහු පෘථිවියේ උපත ලබන බව සඳහන් වේ. මේ අතර, මෙම ඉලක්කය මත ක්‍රියා කරන යමෙකු තම අතුරු ජන්ම වලදී, ඔහු හෝ ඇය සතුව ඇති පුණ්‍ය කර්මයන්ගේ විපාක පදනම්ව මනුෂ්‍ය ලෝකයේ හෝ විවිධ දෙව්ලොවල උපත ලැබීමට අවස්ථා තිබේ. ඒ වගේම ඔබට ඇත්තේ අකුසල කර්ම නම් අපායේ හෝ එවැනි පහත් ජීවිතවල ඉපදීමේ අවදානම්ද පවතී. ඔබ පහත් භවයක ඉපදී සිටින අවස්ථාවක දී, තමන් විඳින දුක් වේදනාවන් මදකට හෝ සමනය කර ගැනීමටද හැකි අවස්ථා ද තිබේ. එසේ හැකි වන්නේ, ඔබ තවමත් කුසල කර්ම රැස්කරගැනීමට සුදුස්සෙක් සහ කුසල් රැස් කර ගැනීමට බලාපොරොත්තු වෙනවා නම් පමණි. ඔබ සිටින්නේ මෙවැනි අවස්ථාවක නම්, ඔබේ නෑදෑ හිතමිතුරන් සහ වෙනත්

අය ඔබ වෙනුවෙන් කරන කුසල් ලබා ගැනීමට ඔබට හැකි වනු ඇත. මේම කුසල් ක්‍රියාවන් ඔබ වෙනුවෙන් කිරීමෙන් ඔබේ නෑදෑ හිතමිතුරන්ගේ කුසල් කර්මයන් අහිමි වෙන්නේ නැති අතර එසේ කිරීම ඔවුන් රැස් කර ගෙන ඇති කුසල් තව තවත් වර්ධනය වීමට හේතුවේ.

ළදරු උපතක දී, විවාහයක දී, මරණයක දී සිදු කළ යුතු චාරිත්‍ර රාශියක් මෙම බෞද්ධ ඇදහීම් ප්‍රවාහයට එකතු වී ඇති අතර බෞද්ධ සමාජීය අවශ්‍යතා සපුරාලීම සඳහා බෝධි පූජා, චෛත්‍යන් වටා සිවුරු ඇන්ද වීම් වැනි නව චාරිත්‍ර ද නිරන්තරයෙන් එකතු වෙමින් පවතී. බුද්ධාගම, දේව ගැති ආගමක් නොවුනත්, මෙම ප්‍රවාහයේ බෞද්ධ අනුගාමිකයින් දෙවිවරුන් සහ එවැනි මිථ්‍යා බලවේග ද, විශ්වයේ ඇති දහස් ගණන් වලින් ඇති යැයි සිතන දිව්‍ය ලෝකවල සහ බ්‍රහ්ම ලෝක වල පැවැතීම්ද විශ්වාස කරයි. බුදුන් දවස බුදුරදුන් හමුවීමට බොහෝ දෙවිවරුන් සහ බ්‍රහ්මයන් පැමිණ ඇති බවත්, තම මවට ධර්ම දේශනා කිරීම ඇතුළු විවිධ හේතු නිසා බුදුන් වහන්සේ ද දෙව් ලොවන්ට ගොස් ඇතිබව සඳහන් සිද්ධීන් රාශියක් බෞද්ධ සාහිත්‍යයෙන් උපුටා ගත හැක.

ප්‍රතිලාභ අපේක්ෂාවෙන් දෙවියන්ට විවිධ පුද පූජා පවත්වන බෞද්ධ අනුගාමිකයෝ දැනටත් සිටිති. ඒ හා සමානව, මිනිස් ජීවිතවලට දුක්ඛිත බලපෑම් ඇති කිරීමට හැකි යැයි සිතන භූතයන් සහ ප්‍රේතයන් වැනි පහත් ජීවිත පවතින බව ද සමහර අනුගාමිකයන් විශ්වාස කරයි. මෙවැනි පහත් ජීවිත වල බලපෑම්වලට ලක් වූ අයගෙන් එම දුක්ඛිත තත්වයෙන් ලිහිල් කිරීමට හෝ මුදවා ගැනීමට, මෙම විශ්වාසයන් වටා වර්ධනය වූ සේවාදායක ව්‍යාපාරද බිහි වී ඇත.

මෙම ගන්ථ්‍රය කියවන පාඨකයන් අතර ගුප්ත සහ මිථ්‍යා විශ්වාසයන් ඇති අය නොසිටි යැයි කරන උපකල්පනය මත ධර්මය ඇදහීමේ දෙවැනි ප්‍රවාහයේ සංෂිප්තය මෙයින් අවසන් කරමි.

සංක්ෂිප්තය

ඔබ දැනටමත් තේරුම් ගෙන ඇති පරිදි, මෙම රචනය බුදුන් වහන්සේගේ ඉගැන්වීම්වල හරය සහ බෞද්ධ ආගම ලෙස බොහෝ අය අනුගමනය කරන දේ පිළිබඳ අදහසක් ලබා දීමට කර ඇති විවෘත උත්සාහයකි. මෙම රචනයේ බොහෝ උපකල්පන සහ පුද්ගලික මතයන් ඇති බැවින් ද, අවස්ථා කිහිපයක දී බුදුන් වහන්සේගේ මනස කියවීමට පවා පෙළ බී ඇති නිසාද, මගේ අදහස් සමඟ එකඟ නොවන පාඨකයින් මෙන්ම මගේ අදහස් වලට එකඟ වන අයද සිටිය හැකි යැයි මා සිතමි. විශේෂයෙන් මා කර ඇති උපකල්පනයන් සහ මාගේ මතයන් විදහා දක්වා ඇත්තේ වසර දහස් ගණනක් සිට මේ දක්වා බෞද්ධ අනුගාමිකයන් ධර්මය පිළිපැදීම ප්‍රධාන වශයෙන් ප්‍රවාහ දෙකක් ඔස්සේ සිදු වන බව මා දකින ආකාරයට පැහැදිලි කිරීමටය.

මෙම ප්‍රවාහයන් දෙකොටසකට වෙන් කර සරල ලෙස මා විස්තර කළත්, යථාර්ථය නම් බෞද්ධ අනුගාමිකයන් නැඹුරු වී ඇත්තේ මෙම ප්‍රවාහ දෙකේ විවිධ සංයෝජන වලින් සැදුම් ලත් ඇදහීම් වලටය. සෑම කෙනෙකුම තමන්ගේ රුචි අරුචිකම් වලට ගැළපෙන පරිදි ධර්ම සහ මිථ්‍යා සංඝටක තම විශ්වාස පද්ධති වලට එකතු කර ගනියි. කෙනෙකුගේ අධ්‍යාපනය බුද්ධිමත් භාවය තමන් තොර ගන්නා විශ්වාස ප්‍රවාහයන්ට එතරම් බලපෑමක් නොවන බව දක්නට හැකිය. අපගේ විශ්වාසයන් තෘප්තිමත් කිරීම, අප අපගේ කුස ගින්න සමනය කරන ආකාරය හා සමානව සිදුවේ. ඒ මිනිස් ස්වභාවයයි. ඔබ බුදු දහම ආගමක්ද දර්ශනයක්ද යන්න හරියටම දැන ගැනීම වැදගත් වේද නොවේද යන බව තර්ක කල හැකිය. නමුත් වැදගත් වන්නේ ඔබ පිළිපදින ධර්ම ප්‍රවාහය ඔබව තේරුමක් ඇති ගමනක රැගෙන යනවාද යන බව තේරුම් ගැනීම යැයි මම සිතමි. ඔබ, ඔබ සමඟම කරන මානසික සංවාදයක් තුලින් මෙම ප්‍රශ්නය අධ්‍යයනය කර තීරණය කල හැකිය. අපි විවිධ විශ්වාසයන් වෙත ආකර්ෂණය වන්නේ කෙසේ ද, එසේ වන්නේ ඇයි ද සහ මෙවැනි

මාතෘකා පිළිබඳව විමසීමට අප උනන්දු වන්නේ ඇයිද යන්න අධ්‍යයන කිරීම තවත් කල හැකි මානසික අභියෝගයකි.

චින්තකයෙකු, ලේඛකයෙකු සහ ජීවිතයේ විශාල කාලයක් ආගම් කෙරෙහි උනන්දුවක් දැක්වූ පුද්ගලයෙකු නිර්මාණය කළ තවත් "කථාවක්" ලෙස මෙම කෘතිය සැලකිය හැකිය. මෙම පොත කියවීමට ඔබ දැක්වූ උනන්දුව මම බෙහිවින්ම අගය කරමි.

*විශ්වාසය සෑම විටම එල්ලී සිටින්නේ සැකය නැමති කඹයෙනි.*

*දැනුම හා ප්‍රඥාව සැකය දුරු කරයි!*

~~~
~~~